භාව ශබ්ද සහිත

# සුගතෝපදේශය.

"ශාලිග්‍රාම ගොත්‍ර විනිශ්චය" නමැති ඉතිහාස ග්‍රන්ථයෙහි

කර්තෘ වූ

ආණ්ඩුවේ රිජිස්ට්‍රාර්කරණලද වෛද්‍යාචාර්ය

කොස්ගොඩ

විසුවතල් ද සොයිසා ශ්‍රී විජයරක්ෂිත

මහත්මයා

විසින් රචනාකරණ ලදී.

---

කොස්ගොඩ මොන්සිස් ද සොයිසා ශ්‍රී විජයරක්ෂිත

හෑගල්ලේ පොලිස් මුලාදෑනියා,

ධම්කීර්ති රුසිපින් පෙරේරා

සහ අප විසින්

අම්බලම්ගොඩ විජය යන්ත්‍රාලයෙහි මුද්‍රණය කරවන ලදි.

---

1923

# ස ං ඥ ප න ය.

මේ ලෝකවාසී සීලාචාර සියලු මනුෂ්‍යයන්ගේම නුවණ වැඩීමට සහ විවේක කාලයෙහි ප්‍රීතියෙන් කාලය ගතකිරීමටද කාව්‍ය ශාස්ත්‍රය නොහොත් කාව්‍ය රචනාව එක්තරා ප්‍රධාන කාරණයක් බව ඉතිහාසාදී නොයෙක් වැදගත් පොත්පත්වලින් පෙනෙන්ම තිබේ. එසේ ඒ කාව්‍යශාස්ත්‍රය උගත් දක්ෂ කාව්‍යක්කාරයන් ගෙන්හිතවූ රටහෝ ජාතිය පූර්ණචන්ද්‍රයාගෙන් තොරවූ අහසමෙන් බැබලීමක් නැත්තේය.

තමද කිසි හසරක් නොදූන තොටිල්ලේ සයනයකරණ ලදරුවාගේ පටන් සොහොන්භූමියටසම්ප්‍රාප්තවීමට මාරයාගේපැමිණීම බලාපොරොත්තුව දුර්වලව ඇඳේ නිදාඉන්න මහල්ලා දක්වා කාව්‍ය ශාස්ත්‍රය නොහොත් කාව්‍යක්කාරයතෙමේ ඒ ඒ අවස්ථාවන්හි සියලු මනුෂ්‍යයන් සතුටුකිරීමෙහි සමර්ථවන්නේය. කෙසේද? දරුවන් කෙරෙහි මෛත්‍රී සහගත අධික ප්‍රේමයක් ඇති පෙම්බර මැතියන් විසින් ස්වකීය දරුවා සාගින්නෙන් පීඩිතව "අම්මේ, අම්මේ" යනාදි කෑමොරගසා අඬන දුඃඛිත ශබ්දය යථෝක්ත මව්ගේ කන හිමෙන් හෘදය වක්ෂුවලව ඉවසාගත නොහැකිව එකී ලදරුවා තම උකුලේ ඉඳුවා කිරි දෙමින් මුහුන සිප සනසාගත නොහැකිවූවිට

පු තු නේ   තුඹ නාඩ   න්නේ
දෙන නේ   කිරි බීප   න්නේ
නි ති නේ   දෙව් රැකදෙ   න්නේ
ඉ ති නේ   දෙයි දෙයිය   න්නේ

යනාදි කව් කියනුලැබූවිට මව්ගේ මාදුම් එම කාව්‍ය රසය අසා උකුලේඋන් බිලිඳ සුවසේ නැතපෙන්නාක්මෙනි. මෙසේම කාව්‍ය රසයෙන් මහල්ලෙක්ද සතුටුකරතිබෙන මුඛපරම්පරාගත ගමකථා පිංචක් මෙසේයි.

එක්තරා පිටිසර ගමක හකුරු සාදා එදිනෙදාව වීකුනා ජීවිකාව කරගත් ගම පවුලක් වූයේය. ඒ කාලයෙහි ඒ වෙලාවෙහිම කඩාගත් නැඹු ආදී අඹු කොළවගීවලින් හකුරු මුල් ඔතා බැඳීම සිරිතක්ව තිබුණේලු. දිනක් මෙසේ ඔතා බඳින ලද හකුරු මුල්

විකුණාගන්ට යන්ට එන්ට නොහැකිවනයේ නොකඩවා තදබල වර්ෂාවක් වසින්ට පටන්ගෙණ දවස් ගණනක් ගම්පව්ලට නිරාහාරව දුකසේ ඉන්ට සිදුවිය. මෙසේ දින ගණනක් නිරාහාරව ඉද සාගින්නඉවසාගතනොහැකිව ඉතතාසී ගමරාල මදමද වර්ෂාවෙහිම හකුරුවෙලදාමේ ගමේයන්ට අදහස්කර වර්ෂාවට පූර්ව ගෙයි ඔතා බැදතිබුන හකුරුමුල් පරීක්ෂාකර බැලූවිට හකුරුමුල් කැඳ ආදි අඹු කොලවගීවලින් ඔතාතිබුන බැවින්ද වර්ෂාව හේතුකොටගෙණ පිනිබෑමෙන්ද විකුණාගතනොහැකිවනයේ දියවීගොස්තිබුණාදුක දුක්මුසු විලාපකියමින් අඩන්ටවූයේය. මේ මෝඩ ගමරාලගේ දුක් බින විලාපය දුටු සීත සුලං ඉවසාගත නොහැකිව ගිනි තැප තැප බොක්කෝටුන් මහලු ගම්මහගේ පෙර කවිදෝකෙණෙක් කියනවා, අසා දුක ඉගෙණ තිබුන මෙම කවිය කියා ගමරාල සැනසුවේය,

වේලා කොල අරගෙ      න්නේ
මුල තදකර බැඳප      න්නේ
ගිය හකුරට තාඩ      න්නේ
තියෙන හකුර රැකග      න්නේ

යනාදි නම මගළ බිරිඳගේ මෙම කාව්‍යරසය අසා සන්තෝෂනගම රාල සෑ සෑ කියා සිනාසී සතුටටපැමිණ මෙම කවියෙන් ගතයුතුවූ උපදෙසය ගෙණ එදාසිට වේලාගත් කැඳ ආදි කොලදැකීමලින් හකුරුමුල්ඔතාබැද විකුණා ප්‍රයොජනයගෙණ ජීවිතාහාරය දක්වා රකාඋනේළ. මේ ආදි වශයෙන් කල්පනාකලාම තරුණන් සහ තරුණියන් කාව්‍යරසයෙන් විතන සන්තොෂයට පැමිණීම ගැණ වස්තරකිරීම උවමනානොකෙරේ.

වර්තමාන කාලයෙහි කෙසේවෙතත් පෙරකාලයෙහි මහා රාජ සභා පවා බබලවන්නේ කවිවරයෝය. කීර්තිමත් රාජසිංහාසන ඉදිරියෙහිද අලංකාර රාජමාලිනාවේ යසන්ගබ්බාවෙහිද කවීරයා රාජසේවයකරති. පෙරකාලයෙහි රජපවා සතුටුකරන්නෝ උගත් දක්ෂ කවිවරයෝ බව මේආදි නොයෙක් කරුණුමලින් පෙනේ.

තවද, සිත්ගි කරදර නමැති අඳකාරයද සත්ජනයන්ගේ චිත්ත නමැති නෙලුම්ද ප්‍රබොධ කරන්නේද කාව්‍ය රසය නමැති චන්ද්‍රරශ්මියෙහි. රටක් හෝ ජාතියක් කාව්‍ය ශාස්ත්‍රයෙන් හෝ දක්ෂ කාව්‍යක්කාරයන්ගෙන් හීනවේනම් කල්යාමකදී එම රට හෝ ජාතියේ සාමමාත්‍රය පවා අතුරුදහන් වීමට අවකාශ තිබේ.

උගත් දක්ෂ කාව්‍යක්කාරයන්ට පෘථිවීශ්වරවූ රජුන්ගෙන් සහ ධනාධිපති උතුමන්ගෙන්ද මහත් වටිනා ප්‍රසාද ලැබී තිබෙන බැව් වැදගත් පොත්පත් කියවූවන්ටසාක්ෂිවේ. තවද,

මණිනා වලයං වලයෙන මණිර්—මණිනා වලයෙන විභාති කරඃ,
ශශිනාච වරජ් වරදූව ශශී—ශශිනා වරදූව විභාති නභඃ.

ගුරුනාච මහත් මහතාච ගුරුඃ—ගුරුනාච මහතාච විභාති සභා,
කවිනාච ප්‍රභූඃ ප්‍රභුනාච කවිඃ—කවිනා ප්‍රභුනාච විභාති ජගත්.

මෙහි භාවය මෙසේයි:- මාණික්‍යය කරණකොටගෙණ රත් වළල්ලද, රන් වළල්ල කරණකොටගෙණ මාණික්‍යයද බබලයි, එම මාණික්‍යයත් රන්වළල්ලත් දෙකම කරණකොටගෙණ (ස්ත්‍රීන්ගේ) අතකර බබලයි. චන්ද්‍රයා කරණකොටගෙණ තාරකාවෝ බබලති. තාරකාවන් කරණකොටගෙණ චන්ද්‍රයා බබලයි. චන්ද්‍රයාද තාරකාද යන දෙපක්ෂයම කරණකොටගෙණ අහස්තලය බබලයි. ආචාර්යවරයා කරණකොටගෙණ (මන්ත්‍රීවරාදි) උත්තමයෝද, මන්ත්‍රීවරාදි උත්තමයන් කරණකොටගෙණ ආචාර්යවරයෝද බබලති. ආචාර්යවරයාද උත්තමයන්ද කරණකොටගෙණ සභාව බබලන්නීය. කවිවරයා කරණකොටගෙණ රජ බබලයි, රජ කරණකොටගෙණ කවිවරයා බබලයි. කවිවරයාද රජද යන දෙපක්ෂයම කරණකොටගෙණ මුළු ලෝකයම බබලයි යනු පෙරදිග උත්තම කීමකි

මේ ඈර විශේෂ වශයෙන් අප ලක්වැසි සිංහල වර්ගයාගේ සියලුම කටයුතු බොහෝසෙයින්කවි හා සම්බන්ධව පවත්නාහ, සිංහලයන්ගේ ශිල්පශාස්ත්‍ර සම්බන්ධපොත්ද ඔවුන්ගේ සිරිත්විරිත් ගුණධර්ම උපදෙස්සම්බන්ධපොත්ද විවාහමංගල්‍ය ප්‍රියසම්භාෂණාදි සිංහල ජාතික ප්‍රධාන උත්සවදිනයන්හි පවත්වනුලබන ආශිර්වාදදි ස්තුති වාක්‍යයන්ද කවි හා සම්බන්ධව අද දක්වා පැවත එන බව කවුරුත් දන්නාකාරුණකි. ඇරත්යහපත්කාව්‍යපොත්කියවීම බාල තරුණ මහලු සියලුදෙනාටම ප්‍රයෝජනය ලැබියහැකිවාක් මෙන්ම අමනොඥ ප්‍රලාප කාව්‍යපොත් කියවීමෙන්ද බාල බාලිකාවන්ගේ සහ තරුණ තරුණියන්ගේත් මූලාව සහ අනර්ථයට හෙතුවේ.

මේආදි වශයෙන් කල්පනාකර "සුභාෂිතොපදේශය" නමැති මෙම කාව්‍ය පොත්පිංච රචනාකරන්ට අදහස්කොළෙමි. එසේද වූවත් පොතක් කිරීමෙහි තරම් සමර්ථ කාව්‍යශාස්ත්‍ර දැනීමක් මා

දුකමුගෙණ තැනත් මෙසෙවකනව මාසින්තුල කලකපවත් ඇතිවූ මහත්සතුට නිසාද මෙබඳු යහපත් පොතක් කරන්මය කියා හිත මිත්‍ර මහතුන් කීපදෙනෙකුගේ අයැදීම සඳහාද මෙම කාව්‍යපොත් පිංච රචනාකොට මෙය කියවනවුන්ගේ වඩාත් තේරුම්ගැණීම සඳහා ඉතා ලුහුඬු භාවසන්නයක්දලියා මුද්‍රණයකරවන්ට යෙදුන බව ප්‍රීතියෙන් සඳහන්කරනා අතරම ප්‍රමාදදියෙන් මෙහි ඇතිවූ ව්‍යාකරණාදි දෝෂයන් අත්ඇර උපදෙශයන්ගෙන් ලැබියයුතු ප්‍රයෝජනය ලබාගැනීම අගතිවිරහිත සත්පුරුෂයන්ගේ ගුණ ධර්මයකි.

එසේදවුවත් යම්තම් මොකමොකවත් අවුලා හිතුවිතට දුන උගත් කිසි යහපත් ගුරුආශ්‍රයක්නොමැති පණ්ඩිතමානී අම්නොඥ කුකවීන්ට මේද හිස් ප්‍රලාප වැඩක්යකියා දොස්තබන්ට පුළුවන. එසේ සියල්ලටම සාධාරණව පිළිගැනීමට මෙබඳු කාව්‍ය පොත් පිංචක් තබා ඉතා ලුහුඬු ලියවිල්ලක්වත් ලිවීම සම්ඳුතුවූ කිසිවෙකුට පුළුවන්වේය කියා මගේද විශ්වාසයක් නොමැතිසි. සත්පුරුෂයිනි, පරීක්ෂාකර මෙහි ඇතිවූ නිවැරදිසහිත යහපත් උපදෙශයන්ගෙන් ප්‍රයෝජනය ලබාගැණීම පිණිස මෙම පොතෙහි කොපියක්ගෙණ කියවීමට කිසිවෙක් මැලිනොවෙතමෙන් කාරුණ්‍යවන් ඉල්ලමි.

මේවගම,

වෛද්‍යාචාර්ය මිගුවෙල් ද සොයිසා ශ්‍රී විජයරක්ෂිත



## ගාථා සන්න සහිත

# සුගතොපදේශය.

---

1 සරුවන සග පවග හර සැපව සිතුම න
දුරුවන සව් කෙලෙස් දිව මතුරු බසුව න
සිරිගන සිරු දහම් රැස් සඟ නඹුරු ය න
තෙරුවන වඳිම් උතුමඟ අත්බැඳ මැනි න

සාරවූ දිව්‍යබ්‍රහ්ම්‍යනිර්වාණ සම්පත්තීයවචීනතාමාත්‍රිකාවූ සකල කෙලෙසයන් දුරුකිරීමට දිව්‍යමන්ත්‍රයබඳුවූ(ත්‍රෛලොක්‍යාචාර්ය්‍ය සර්වඥයන් වහන්සේ නැමති) සූර්ය්‍යාද, (සුගත තථාගත සර්වඥයන් වහන්සේ විසින් දෙශනාකර වදාලාවූ නවලොකොත්තර) ශ්‍රී සද්ධර්මය නැමැති රශ්මියද, (සර්වඥ බුද්ධ පුත්‍ර රත්නයවූ සතර සංවර සිලාදි ගුණ ධර්මයන්ගෙන් පිරි) ආර්ය්‍ය මහා සඞ්ඝ රත්නය නමැති තාවරනද යන රත්නත්‍රය උත්තමාඞ්ගයෙහි තබාගෙන තබා භක්තියෙන් නමස්කාරකරමි.

2 හ ද න ද කරමිහෝ දෙන සැප නිවා සය
සොද සොද පද අරුත් සුතු සිහල බා සය
ප ද බැ ද කියන මේ සුගතෝපදෙ සය
ල ද ල ද වියතුනෝසව් තොවම රෝ සය

චිත්ත සන්තොෂය ඇතිකරමින් සැපනිර්වාණය දෙන්නාවූ සෙන පන් පදාර්ථයන්ගෙන් යුක්තවූ සිංහල භාෂාවෙන් පද්‍යබන්ධනකර කියන්නාවූ "සුගතොපදෙශය" නම්වූ මේ ග්‍රන්ථයාලැබුනාවූ ලැබි නාවූ ව්‍යක්තයින් සෙරොස්නොව ශ්‍රවණයකරව්.

3 සුතුවෙති කව් ලිහිල් සිංහල බා සාව
වඩවති නැරඹුවන් සිතු අබිලා සාව
නැරඇති මෙහි කිවිදු වියරන දෝ සාව
පරමති විතර ගනවෙති ජයගෝ සාව

මේ කව් පැහැල්ලු සිංහලභාෂාවෙන් යුක්තවෙති. කිරීකෘණය කරවුන්ගේ විද්‍යාභිලාෂය වර්ධනය කරති, මේ පද්‍ය බන්ධනයෙහි ඇත්තාවූ ව්‍යාකරණ දෙෂාදිය අත්හැර පරමාර්ථය (උපදෙස්) පමණක් ගන්නේනම් යහපතැයි ප්‍රශංසා කරති.

4 ජ ර ම ර නැති ලෙසින් පඬිවරයන් සැ ම
නි ර ස ර සිප්සතර උගනිති කරපේ ම
හොර තර මරු කෙසින් අල්ලාගන්නේ ම
නි ර තුර මුනිඳහම් ලෙහමය පැවිනී ම

ජරාමරණ නැත්තෙකුමෙන් ශිල්ප ශාස්ත්‍රයන්ගේ ඉගෙනීමද මරුමුවට පැමිණියෙකුමෙන් ශීලාදි ගුණ ධර්මයන්හි හැසිරීමද පණ්ඩිතයන්ගේ චාරිත්‍ර ගුණ ධර්මයයි යනු භාවයි.

5 හෙහර ම් දුර රැගෙන ගියමුත් බරනැ ත්තේ
ස තු ර න් සොරුන් සිටියත් සිතු බියනැ ත්තේ
නි රි දු න් රොසවුවත් ගන්නට හැකි නැ ත්තේ
ම න ර ම් සිප් උගතහොත් වැඩවෙයි ස ත්තේ

දුර ගමනේහි බරනැති සොර සතුරන්ගෙන් බියනැති රජුන් වවත් ගත නොහැකි යහපත්වූ ශිල්ප ශාස්ත්‍රයන් උගත්තේනම් අභිවෘද්ධියක් සිදුවීම නියතයි.

6 නි රි දු ව බරණ මැණිකිරුළින පාළඳි ම
සඟ න ට බරණ ගුණ සිල් දම් සුරැකි ම
ස ත ස ට බරණ කල ගුණ සිත ඇතිවී ම
සැමසෙට බරණ වේ සිප්සත සුදුනී ම

මාණික්‍ය කිරීටය රජුන්ටද, සීලාදි ගුණ ධර්මයන් සඟුන්ටද, කෘතෝපකාරිවීම සියලු සාඵසින්ටද ආභරණ වන්නේය. යහපත් ශිල්ප ශාස්ත්‍ර දැනීම සියල්ලටමවඩා උත්තමාභරණ වන්නේය.

7 බ ල ව ත් කලට දැනගත් සිල්පයේ අ ගේ
පොහොසත් කලට එකතන් නැ මිතුරුම ගේ
ය හ ප ත් සතරඇතහොත් මෙලොවයමෙකු ගේ
නොහ රි ත් තිකල හිතවෙත් අඹුදරුන් ව ගේ

ශක්තිවන්ත කාලයෙහිදී දැනගත්තාවූ (බහු ශිල්පාදී) ශිල්පය නොහේද පොහොසත් කාලයෙහිවූ ඥාතිමිත්‍රාදීන් මෙති. මෙලෝක යෙහි ගමෙක් උගත්තාවූ (වේදාදි) ශාස්ත්‍රයන් නොහේද සවකීය අඹු දරුවන්මෙන් කාලත්‍රයම අත්නොහැර පිහිටවෙති

8 ස ත් ද න් පවර මිහතුන්හට උතත් ම ර
නැ ත් නී ත් සිරුර වැනසෙන්නේ කලක්හ ර
ම ත් ඇ ත් සිරුර කුනුවී ගියතුඹුත්ම ර
ඇ ත් ද ත් සඳරසල වැනසෙද එම අත ර

උත්තම ශාස්ත්‍රවන්තයින් මැරීගිය නමුත් ඔවුන්ගේ කීර්ති ශරීරය බොහෝකාලයක් නැතිනොවී පවතී. කෙසේද මල ඇතුන්ගේ ශරීරය කුනුවීගිය නමුත් ඔවුන්ගේ දත් බොහෝ කාලයක් පවතින්නාක් මෙනි,

9 මු හු ණ හැඩ වෙ න්ට හොඳ බරණකි රුවු ල
ප ය න දි ලි සෙ න්ට වෙන තෙල් තිබෙනාක ල
ය ස න වැ ඩි වෙ න්ට යති බඹු හැසිරුක ල
නුව ණ වැ ඩි වෙ න්ට මුනිදහම වෙනි මු ල

මුහුණ ශොභාමත්වීමට රැවුල ආභරණයකි. පාන දීප්තිමත් වීමට තෙල් ඇතිවීම හේතුවකී. බඹු හැසිරීම අගය වැඩිවීමට කාරණයකි. එමෙන් නුවණ වැඩිවීමට සම්බුද්ධ ධර්මය මුල්හේතුවය.

10 සතර නොද ත් නැය බලව ත් කෙනෙකු රො සා
අ ත ට රු ග ත් ගල උලව ත් නොවෙති දො සා
දු බ ල වු ව ත් කාව්‍යසත ද ත් කෙනෙකු රො සා
අ ත ට රු ග ත් වෙනිබලව ත් පැන දො සා

ශාස්ත්‍රය නොදත්තාවූ ශක්තිමත්තා කෙනෙක් රෝසයකින් අතට ගත්කාලද ගල් උල් වලින්ද දෝෂයක් නොමැති දුර්වලවුවත් කාව්‍යශාස්ත්‍රය දත් කෙනෙක් රෝසයෙන් අතට ගත්කාලද පත් හිද නොහොත් පැන කරණකොටගෙණ බලවත් දෝෂවෙති

11 ර ගා පුරදරසෙස දන තිබුනත් දෙගු රැ
ම ගා සිප්සතර නොමදුන් කොත් එද රැ
නි ගා විද අනෙක දුක් පත්වෙති තිබො රැ
සි ගා තැ වැන්න මහ දන සිටුකුම රැ

ශක්‍රදේවේන්ද්‍රයා හා සමාන වස්තුව තිබුනේවී නමුත් දෙමව්පියන් විසින් යහපත් ශිල්ප ශාස්ත්‍රාදියක් පුහුණු නොකලාවූ දරුවෝ නොයෙක් නිග්‍රහවිඳ දුක්පත් භාවයට පැමිණෙත්. කෙසේද, මහදනසිටුකුමාරයා සිඟමනට පත්වූවාක් මෙනි.

12 උ ඩු ම් බ ට ජල ය සම්බිය වල ගොබැලි නැ ත
පතු ල ට තල ය විලසව වල ගොබ ලි ඇ ත
නිදොසට මිය ය පරණව කීතත් සන ත
සිත ය ට විය ය විස්වසහැත කෙලෙස් ස ත

ජලයෙහි උඩ පැත්ත ඇද නැතුව සමවන්නේය. එහි යටි පැත්ත භූමියේ ආකාරයට වල ගොඩැලි ඇතිවන්නේය. එමෙන් අනුන්ඉදිරියෙහි තමන්ගේ නිර්දෝෂභාවය ප්‍රකාශකරනත් කෙලෙස වසඟ සත්වයින්ගේ හිතයට ඇති යතිය ඒට විරුද්ධවෙති.

13 දොර වැසුවො ත් හොරු ගෙට නොවදිනසේ ම
හිත හැදුවො ත් පව්කම් සිදුවෙද කොහො ම
මි ල ට දූ න ත් දෙය පර පණ වැනසී ම
හ ය බ බ ල ත් සීත පව්කරණායේ ම

දොරවසනලද ගෙට හොරු නොවිදින්නාක්මෙන් තනකලද සිත් ඇත්තාහට පාපයන් සිදුනොවන්නේය. ප්‍රාණඝාත කරණලද භාණ්ඩයන් (දුනු, තුවක්කු, දැල්, බරු) යනාදියවිස්සෝතමූත් පව් සිදුනොවන්නාක්මෙන් දුර්ලශරීර ඇත්තාහටද හිංසන් පවුසිදුවේනී.

14 හිනය ට නොපා නැ මින් දෙරණ මහනා ර
මතුපි ට එ පා සක්යනී ගන්නට බා ර
අතපි ට න පා නව බදුනට ලනපා ර
හිනය ට එ පා නොව විමසන ආකා ර

සෑතීම්ත්‍රාදීන්වූවත් පරීක්ෂාකොකර ආශ්‍රයකිරීම සුතුසුනාවේ කෙසේද, අලුත් මැටිභාජනාදිය (වලන්) ගන්න තැනැත්තෝ පළමුවෙන් තියපිටින් ගසා පරීක්ෂාකරති යනු භාවයි.

15 පොතේ ඇතත් සිප්සත උගතට දුනු ම
කතේ කොතෙක් සිටියත් නැත පතිවත ම
අතේ ඇඟිලි තිබුනත් නැත එකලෙස ම
හිතේ තිබෙනදේ සිදුවෙනවා පුදු ම

ග්‍රන්ථයන්හි ශිල්ප ශාස්ත්‍ර ඇතත් ඉගෙණීම ඉතා දුෂ්කරවේ. බොහෝ සත්‍රීන් ඇතත් පතිව්‍රතාව රකින්නියක් සොයාගැනීම ඉතා දුර්ලභවේ. හස්තයෙහි ඇඟිලි කීපයක් ඇත්තේනමුත් ඒකාකාර නොවේ. එමෙන් සිත්හි කටගත්තාවූදේ නොහොත් සිතිවිලි සිඩ වීම ආශ්චර්යයකි.

16 රිවිකිරණ ට ඉදුවර පොබයන වාය
සඳකිරණ ට මදකුත් නොපිපෙන වාය
තිම්දෙයකට දෙය එකසත් වෙන වාය
හිතඇතියට ඇතියන් සිත් පින වාය

සූර්‍ය රශ්මියට පිපෙන මහනෙල් ආදිය චන්ද්‍ර රශ්මියට ස්වල්පයකුත් නොපිපෙන්නාක්මෙන් හිතනැත්තාහට අනාත්‍යයෙක් එකතු නොවෙයි. තිම්වූ දෙයකට තිම්වූදෙයක් එකසත්වෙන්නාක්මෙන් සිත් ඇත්තාහට සිත් ඇත්තෙක්ම එකතුවෙයි යනු භාවයි

හිත ඇ ති උ නා නම් යම්දෙයක එකාලෙ ස
17 දෙනරුහිමෙනා වැඩවෙති නොවෙති කිසිදෙ ස
අත ඇ ති ල නා නම් තුම සතුරු පැතිර ස
ඇයිවෙනී ම නා දීයවර කොයි ලිඳෙදන්ය ස

යම් කාරණයක ඒකාකාරවූ සිත ඇතිවූයේවීනම් එයින් කිසි දෞමනස්සයක් නොව අභිසිද්ධියම වන්නේය. කෙසේද, තමන් අත සතුරු තිබුණේනම් කොයිලිඳෙක් ජලය යටපත්වෙති යනු භාවයි.

18 දුර  දිග තොම්බලා සිතවා පමණි  න්ත
හර  හොත වැඩක් වරදිති හැකනොකර  න්ත
පෙර  සිටි අනුවණෙක් ගෙදරට පීයග  න්ත
දොර  කඩ මුරුංගා ගස කැපුවා වැ  න්ත

සිතට ආ පමණින් පරීක්ෂා නොකර යමක් කළේනම් සැක නැතුව වරදිති. කෙසේද, පූර්ණසිටිඅඥානයෙක් තම ගෙදරට රථය නැංවීම පිණිස දොරකඩ තිබුන මුරුංගා ගස සිඳදැම්මා මෙනි.

19 තාපසවත්  ගුණදම් නොරකිතලා  යේ
දීගගියත්  පතිවත නොරකිතවා  යේ
රෝගනොදත්  වෙදදුරු කරනායෝ  යේ
රාජපිපත්  විට කලවැති බලියා  යේ

පැවිදිවෙලත් ගුණධම් නොපුරන්නේ ස්ත්‍රීහු ස්වාමිකුලේවත් පැමිණ පතිව්‍රතාව නොරකින්නාක් මෙනි. (ආදන නිදනාදි පඤ්ච කය නොදන්නාවූ හෙවත්) රෝග නාඳුනන්නාවූ වෙදහු කරන බෙහෙත් රාජව්‍යපත්තියෙන් මුදවාලීමට බලියාගකරන්නාක්මෙනි.

20 මනාමෙන්  සිප්සතර දතගත්තත් නොම  ද
කිසියන්  පලක් නැත කම්මැලි සතට ද  ද
ගතරත්  උන නමුත් ඉදිකටුව කුමට  ද
කියමින්  පෙරසිටත් පැවතෙන එබස ලෙ  ද

දූෂණවූ අලසයා කෙතරම් ශිල්පශාස්ත්‍ර උගත්තේනමුත් ඵලයක් නැත්තේය. කෙසේද, ඉදිකටුව ස්වර්ණමය උවත් කුමටය යන පුරාණ වාක්‍යය මෙනි.

21 ලකලා  පහන තිබුනත් අන්දයෙකු අ  තේ
දකලා  එකදෙයක් පැවසීම නැකිනැ  තේ
ලැබිලා  යස ඉසුරු තිබුනත් මෙරමග  තේ
එකලා  කත්තියට ඉන් කිසි පලක්නැ  තේ

ඇස් අන්ධයෙකු ඉදිරියෙහි දීප්තිමත්වූ පහන් එළියක් ඇතිවූවත් එකදෙයක්වත් දර්ශනය කිරීම නොහැකිවෙයි. එමෙන් මහත් යසඉසුරු ලද්දේනමුත් කාලකන්නියාට ඉන් කිසිපලක් නැත්තේය.

22 ලාබමදක්  සලකා බොරුවෙන් රැකු  ත
ඒබඅයෙක්  හට නිලයක් ලැබුනොතිබ  ත
ශේකිම්යත්  හොරත් එක්කහු උනාමෙ  ත
උපකිතුවක්  කර හිළු රටම වනස  ත

27 ම හ ළු  සුනඛ දත් සුන් මසු කටු දූක  ලා
වි හි ළු  විලස වෙහෙසෙති ලෙවලෙව ලොබ  ලා
ස හ ළු  මෙලොව සත ගිජුමුත් වෙහෙසෙව  ලා
රි හි ළු  කවම පස්කම් සැපත සමූක  ලා

දත් නැති ජරපත් බල්ලෝ හැපීමට නොහැකි මස් කටු ලෙවී මෙන් වෙහෙසෙති. එමෙන් මහළුවූවත් කෙලස වසග සත්වයෝ පංචකාම සම්පත්තීය කමුවූ කල්හි ආශා උපදවති.

28 දෙගුරු න්  බස් නොගෙන තරුණන් සතති  ත්ත
අ ග නු න්  සරණකරගණ යති විපස  ත්ත
සොබම න්  දිමුතු මුතුහර අත්හරිමි  ත්ත
ස බ රු න්  හුනුදූවින් උර සරකත වැ  ත්ත

සැණවනත දෙමව්පියන්ගේ අවවාදයන් පිළිනොගෙන අනු වන තරුණයෝ සත්‍රිහු සරණපාවා ගනිති. කෙසේද, දිප්තිමත්වූ මුක්තාහාරයන් අත්හැර වැද්දෝ ඔතිදඇට මාලාවන් උර පළ දින්නාක්මෙනි.

29 ප ස්  කම් සැප විඳ වසනා ලියන් හ  ට
තොස්  බැඳ තරුණයන් වෙහෙසෙන්නේ කුම  ට
ග ස්  උඩ පතින වඳුරන් දුටුවම එපි  ට
ම ස්  කන ලොබින් සුනකුන් බුරනවැනි සි  ට

අනුන්ගේ සත්‍රින් දුක අඳුන තරුණයෝ සිත් බැඳීමෙන් වෙහෙසෙති: කෙසේද, ගස්උඩයන්නාවූ වානරයන් දුක ලේ මස් ලොභයෙන් බල්ලෝ බුරන්නාක්මෙනි.

30 රාග උම තු  පස්කම් සැපතේ ඇ  ලිය
දෝසඋම තු  ගිය ගිය තැන ගුටිකෙ  ලිය
මෝහ උම තු  කල කල දෙය පැටලි  ලිය
සැම අ සු තු  කම් ඇත මේ තුනෙ ගැ  ලිය

රාගයෙන්මත්වූවාහු පඤ්චකාමයෙහිඇලීමද ද්වෙෂයෙන් මත් වූවාහු ගියගියතැන ඔබරකිරීමෙහිද මෝහයෙන් මත්වූවාහු කල කලදෙය පැටලීමෙහිද යුක්තවෙති. විශෙෂයෙන් ලොවැති සියලුම අසුතු ධම් මේ තුනෙහි ඇතුලත්වෙති.

31 ලෝබ ය නිසා  දූනට අත මලකී  නවා
දෝස ය නිසා  සීලය සිදබිඳ ය  නවා
මෝහ ය නිසා  නුවණද වැනසී ය  නවා
මෛථු න නිසා  සැමිය බව දුක දෙ  නවා

හික්මීම කරණකොටගෙණ ගුරුවරයාගෙන්ද, සත්‍ය වචන කීමෙන් රජුන්ගෙන්ද, තමන් සතු දේ දීමෙන් සොරුන්ගෙන්ද, ගැලවීම හැකිවෙයි. මරුගෙන් ගැලවීමට මෙබඳු පරිත්‍යාගයක් නැත්තේය.

41 ඇ තු න් දමනයට අන්කුසය මන්තරේ
ස පු න් දමනයට බල ඔසුය මන්තරේ
ර දු න් දමනයට තුතිබසය මන්තරේ
ද දු න් දමනයට නැත කිසිම මන්තරේ

හස්තීන් අංකුසයෙන්ද, සර්පයින් ඖෂධවලින්ද, නරේන්ද්‍රයින් ස්තොත්‍රයන් ලින්ද, දමනයවෙති. (මන්ත්‍රවෙති) මෙබඳු මන්ත්‍රයක් දුර්ජනයන් දමනයකිරීමෙහි නැත්තේය.

42 වි ප ත් ක ල ත් නොහරිති සිතෙ මෙත් ග තිය
සැ ප ත් දු ක ත් දෙකටම එකී මැදහ තිය
ඇතත් නැත ත් පරලොව පව් නොකර තිය
කොතෙක්කිවත් නොහරිති දුදනගෙ ග තිය

පණ්ඩිතයන් විපත්ති කලවුන්වද මෛත්‍රී කරති. පරලෝකය ඇතත්නැතත් පාපකර්මයන්නොකරති, දුක්සැප දෙක්හිම මධ්‍යස්ථ වෙති. මෙබඳු සවභාවක් දුර්ජනයාතෙරෙහි නොමැත. කොතෙක් කිනමුත් උගේ ගතිය අත්නොහරී.

43 පියකරු රස තෙපුල් තෙපලන සතට සැ ම
අමිතු රු කෙතෙක් නම් නැත ලෙව්තුල කිසි ම
අමයු රු කිරණ දුරු සඳ බසිනාතුරු ම
බියකරු ගනඅඳුරු පැමිණෙන්නේ කොහො ම

ප්‍රියවචන කීයන්නවුන්ට සතුරු කෙණෙක් ලෝකයේ නැත. කෙසේද, චන්ද්‍රාලෝකය පවතිනතුරු ඝනාන්ධකාරය නොවන්නාක් මෙනි.

44 ගු රා හොරා ඇත්දත් ශේලය වග ම
ති රා ස රා දක්වයි එලියේ නැවු ම
හොරා සු රා පානය කොරුවොත් අද ම
බු රා බු රා වෙරිමත ගගවයි ඔහු ම

නටන්නා සැගවීමෙන් සැරසුනත් එලියේම නටයි. එමෙන් අඥානයා හොරා සුරාපානය කලත් ඔහුගේ දෙඩවීමෙන් වෙරිමත ගගවයි.

45 ප ල සු ත් රුක නැමෙනමෙන් පැනහර දන ද
ය ස ප ත් නම්වලට නැමදින නැමෙති සො ද
බ ල ව ත් ලෙස වියලි දඹු නොනැමෙනාලෙ ද
නොනැමෙත් තිසි දෙයම සරදුර දනෝ ද ද

ඵලහරිත වෘක්ෂ නැමෙන්නාක් මෙන් සත්පුරුෂයන්ද යහප තෙහි නැමෙති. දීරහලද වියලිදඬු නොනැමෙන්නාක්මෙන් අසත් පුරුෂයන් ශුෂ්කයෙහි නොනැමෙති.

46 ම හ ත් කුලුණු ගුණයුත් සුදනන්ට ස ත
අ හ ත් නාලොත් හලුහට ඔදුවනු තිය ත
ග ස ත් පවන් උඩි අත් දුහුලි ගැහුවො ත
වැටෙත් තමන්ගෙම උවහත තොගොසිව ත

කරුණාවනනාවූ සත්පුරුෂයින්ට අනාඩි කළොත් ඔහු කරා පැමිණෙයි. කෙසේද, උඩි හුලගෙහි එෑ දුහුලි තමන්ගේම මුහුණේ වැටෙන්නාක් මෙනි.

47 සො ඳු රු පල ලබනා ලෙස ඔතු වී සබ ද
ම හු රු දනයන්ව කල උවටැන් නොබ ද
රු දු රු ලෙස වියලි රුක මූලට දිය ඇ ද
ම ග රු මල් තිසා වෙහෙසුන වැතිය ද ද

ලෝභයාගෙන් වස්තුවලැබීමට කරණලදඋපකාරය කෙසේද, මෝඩයෙක් මල රුකකට වතුර වක්කර මල් තිසා වෙහෙසුනාක් මෙනි.

48 ම නා සියල දත් මුනි අත්හරිම් න්න
වෙ නා සුරන් අදහනි මොක් ලැබග න්න
පි නා සිත වෙහෙසගෙන ගිනි ලැබග න්න
න නා මැදිරියන් දුක පිඹිනා වැ න්න

සියල්ල දත්තාවූ සර්වඥයන් වහන්සේ හැර මොක්ෂය පතා වෙන දෙවියන් ඇදහීම කෙසේද, ගිනිපතා නනාමැදිරියන්ට පිඹ වෙහෙසෙන්නාක් මෙනි.

49 පි පු නු ම ල ට බඹරුන් එනි දී නා ද
තරුනු ලි ග ට සලෙලුන් එනි වී නා ද
එරුණු කි ර ට පැටියා නොයනාසේ ද
ලැබු නු සැප ට හිමියා නොනනා දේ ද

පිපුනාවූ කුසුමයට නාදනාව ගෘඩගයන් එන්නාක් මෙන් තරුණ ස්ත්‍රීකරා සල්ලාලයෝ ගිසින්දුකියා එති, කිරිඑරුණු දෙන දිමට සුදුසු පැටියා නොයන්නාක්මෙන් යහපත් ස්ත්‍රීහු අන්‍ය සැප තක් ලද්දේ නමුත් තම ස්වාමියාට හිස නොදෙති.

50 එ න්නේ එනදුව සනවෙන යසඉසු රු
වෙන්නේ ළිළිවෙලින් පුරසඳ වැඩෙනසු රු
ය න්නේ යනදුව කොසිලෙසවෙ ඉසු රු
ද න්නේ නැද්ද අවසඳ නැතිවෙන අසු රු

වාසනාවන්ත කාලයන්හි යහඉසුරු වඩිනයවුන්ගේ පුර පසෙයෙහි වූ පූර්ණචන්ද්‍රයා මෙනි. අවාසනාවන්තකාලයන්හි එය නාස්තියට පැමිණෙන්නේ අවපසෙහිවූ හීන චන්ද්‍රයා මෙනි.

51 නිකරුණෙ කල්යවන මැලි සතවෙන සැප න
නොමඑන කිසිකලක සකකිරිවත් කුලෑ න
සතොසින සිරින් යුත් තරුණගන සුදිමු න
නොකැමතිවෙන වැන්න මහළුව ඉසුරුම න

සංඛ සඹිර සාදෘශ්‍ය කුල ඇතත් කම්මැලි නිකරුණේ කාලය ගතකරන්නන්ට සම්පත්තිතොමෝ කැමති නොවන්නීය. කෙසේද සෝභමානවූ තරුණියෝ ඓශ්වර්ය ඇතිමුත් ජරපත් මහල්ලන්ට කැමතිනොවන්නාක් මෙනි.

52 ගම් කුකු ලා බැද්දේ කල් අරිනු නැ න
වල් කුකු ලා ගම කැඳුවත් වලට ගී න
පෙම්බැඳලා හොර කිඹියට පුරුදු න න
මව් පි ය ලා දූන් දීගෙට කැමතිනැ න

ගම කුකුලා බැද්දේ නොවසයි. බැද්දේ ඇතිවූ කුකුලා ගම නොවසයි. එමෙන් පාපුරුෂයන් සේවනය කල ස්ත්‍රී නොමනාත් වේසකම් කල ගැති මව්පියන් විසින් දූන් දීගයට කැමතිනොවේ.

53 ලොබ බැඳ ලද ඇසුරුකරණ සත නිත ර
ලැ බ එනක දුක්ද අනතුරු පැමිණෙණය බැහැ ර
ප බ වන කෙරෙ ලොබින් කුසරජ්ජුද මතහ ර
ඔ බ නොබ වසුන් කත් ඇඳ වෙසෙහපුත අපු ර

ස්ත්‍රීලෝභය කරණකොටගෙණ උත්තමයෝ පවා අනයවසනයට පැමිණෙති. කෙසේද, ප්‍රභාවතී කෙරෙහි ලෝභයෙන් කුසරජහු අනාථ දුක්ගත්තාක්මෙනි.

54 වේ සා ලියන් සේවනකරණ අය ගේ
අ. සා අඹුමෙනා ලෙස සිය ලියව ල ගේ
දෙ සා සතුන් නොවීනොත් සුපිලිපන් ය ගේ
ඒ සා සුදුහ ගුණදම් නැතිවේය අ ගේ

වෛශ්‍යා ස්ත්‍රී සේවනය කිරීමෙන් සවකීය භාර්යාව කෙරෙහි ඇලුම අඩුවෙන්නාක්මෙන් පාපී ශ්‍රමණයන් සේවනය කරන්නාවූ යහපත් ගෙණුන්ගේ ගුණ ධම් පිරිහෙති.

55 වී හූ ව ගත්මබැරි ඔඩු ඇත ගෙය ඇතූ ලේ
නා කූ ව නැති බළගෙ ආදර කඳ ඇතූ ලේ
ස තූ ව දෙයක් නැතිමුත් කාරගන්ට බ ලේ
දෑ ස ව පුටුවාම කලබල සිතඇතූ ලේ

විකුණාගන්ට නොහැකි භාණ්ඩයක් සල්පිලතුල තිබෙන්නාක් මෙන්ද, හකුට නැති බල්ලාගේ ආදරය සිත ඇතුලට ප්‍රවිෂ්ටවෙන්නාක්මෙන්ද, සිතුවක් කරගැනීමෙහි බල නැතත් ඇසට දුටුකල්හි සිත් විකාලමෙවයි.

56 වැ ඩ ක කා කලින් දුදනට උපකා ර
අ වැ ඩ කා එයින් සිදුවෙන්නේ නැ ර
ඊ ර ගෙ කා වැඩුවමුත් පොවමින් කී ර
ස ද දූ කා විසමවෙයි නැකල ගෝ ර

යහපතක් ප්‍රාණීනාශීරීමෙන් දුර්ජනයාට උපකාරකරණ ලද්දේ නමුත් අනාර්ථයක්ම කරයි. කෙසේද, කිරි පොවමින් හැදී පැටියෙක් නැතුවත් දෂ්ටකිරීමෙන් දරුණු විෂ ඇතිවෙන්නාක් මෙනි.

57 අ න්ද ඔටුනු බ න්ද රන්දම්ය ක
ඉ න්ද එරජමෙ න්ද තිබුවත් සුත ක
කින්ද එගෙරිහ න්ද නැතු ඵනත ද ක
ව න්ද සපතමෙන්ද දුදන ගතිය ක

බල්ලා රජවූයේනමුත් හෙරිනමින් කනනලද සෙරෙප්පු කන්නාක්මෙන් අසත්පුරුෂයාද උගේ ගතිය අත්නොහරියි.

58 කො ස ඹ රුකේ බැඳී මීයේ නැත ති ත්ත
ර ස ඹ වුව දෙබර පැති තුබුදිති ස ත්ත
නො සැබ මිනිසුවත් නැත කිසි ගතයු ත්ත
මු ස බ නොබනී දද සෙවුමුත් දුතිමු ත්ත

රසවත්වූනනමුත් දෙබරපැති පානය නොකරති. මනුෂ්‍යයෙක් උන නමුත් මුසාවාද කියයිනම් ඔහු පිළිනොගනිති. කොසඹ වෘක්ෂයන්හි බැඳි නමුත් මීයෙහි තිත්ත රස නැත්තේය. එමෙන් අඥානයන් සේවනයකලමුත් දුතිමුත්තෝ බොරුනොකියති.

59 ආ ර න්නේ ලියක අග උඩ බලා න
තෝර න්නේ නැතුව සැල රුක සෙවීමෙ න
බිංර න්නේ නැතීමෙ රුක ලිය වෙලීමෙ න
ගෑ නු න්නේ සිරිත දනු මේ උපායෙ න

ලතාවගී පොළොවෙන් මතුවෙන්නෝ එහි අග උඩ බලා වෘක්ෂයක පවලවාගන්නාකාරයෙන්ය. එමෙන් සත්‍රිය කිසි පරීක්ෂාවක් නැතුව පුරුෂයෝ පාදාගනිති.

60 කි ම් යෙ ක් ඇති ලිංයකුහට පෙම්බඳිමි න්න
කි සි වෙ ක් එගෙට පැමිණෙනනොහොත් රහසි න්න
දි වි යෙ ක් රුදු වහන ලෙනකට ලොබයෙ න්න
ග ව යෙ ක් ගොසින් හිමිහිට ලැග්ගා වැ නන

ස්වාමියෙක් ඇත්තාවූ ස්ත්‍රියෙක් කරා කාම ලොභයෙන් එකී ගෙට අන්‍යපුරුෂයෙක් පැමිණීමකොයේද, පෙර රෞද්‍රවූ දිවියෙක් වසන ගුහාවකට ගවයෙක් ගොස් ලැග්ගාක්මෙනි.

61 මූ සි ක දුටු බළල වැයම සැන්ගෙ න්ට
ඒසැ ක යෙන් හොංවෙසි උං අල්ලන්න න්ට
ලාම ක තරුණියන් තරුණන් අල්ල න්ට
මූ ලි ක උපා යොදමින් යති සැන්ගෙ න්ට

මියන් දුටු බළල්ලු උන් අල්ලන් කන අදහසින් සැන්ගෙති. එමෙන් තරුණියන් තරුණ පුරුෂයන් දුටුවාම උන් පාවාගන්නා අවියෙන් සැඟවී ඕංයම් දක්වති.

62 සැ ග වෙ න් ට ත් නොවටි තරුණයන් දුටුවා ම
ල ග වෙ න් ට ත් නොවටී පෙන්නාලාපේ ම
අ ග ව න් නෙක් නැතුව කිසි තපසුන් සේ ම
අ ග නු ං න් ට ක් සුදුසුමය මැදහත්වී ම

තරුණන්දුටුවාම සැඟවෙන්ටවත් ලංවෙන්ටවත් තාපස ලීලාවක් අඟවන්ටවත් නොසැහෙසි. ස්ත්‍රීන්ටද මධ්‍යස්ථවීම සුදුසුමය.

63 තැ වූලෙන් තැ වූ ල වියෝවීන් පුවතිරි තැවු ල
අ වූලෙන් අ වූ ල මෙලොවේ සව්ලේ පවු ල
තැ වූලෙන් නි ම ල රූසැප වැනසෙසි සක ල
ප වූලෙන් අ වූ ල උත බැරි ගැලවුම දෙක ල

තාපයන්ගෙන් අධික තාපය ස්ත්‍රී පුරුෂ දෙදෙනාගේ වෙන්වීමෙන් හටගත්තාවූ වියෝවාග්නි තාපයවේ. අවුලෙන් බොහෝවූ අවුලනම් පවුල්කීපයක් ඇති තැනැත්තාගේ අවුලවේ. වියෝවාග්නිය කරණකොටගෙන රූපය සම්පත්තිය යන දෙක නාස්තිවෙයි පවුලෙන් අවුල්වූ තැනැත්තාට මෙලෝ පරලෝ දෙක්හිම ගැලවීමක් නොමැත්තේය.

64 ගෙ ර ලි ය කපනහුගෙ තැරවෙන කොහොල්ලැ ය
ගොර ලි ය සෙවනහුගෙ ඇතිවෙනි හුහු ල්ලැ ය
එ ක ලි ය රැකුමෙනා විසුවොත් සැහැ ල්ලු ය
දූ ක බි ය නොම්දෙනා උකමුත් මග ල්ල ය

කොස් කොටන්නහුගේ කොහොල්ලැ තැවරෙන්නාක් මෙන් අන්‍ය ස්ත්‍රීසේවනයකරන්නහුගේ කම්පිත බියපත්වූ ලය ඇතිවෙයි එක ස්ත්‍රී ආරක්‍ෂාකිරීමෙන් විසීම ඉතා සැහැල්ලුමෙනි.

65 හෙ වු ව රේ විදුලි එළියට බියකර නී
බො වු තු රේ තිබෙන තං මැණික වැඩකැ නී
ස වූ තු රේ පිපුන මල් කෙළුම ගැනිකැ නී
සි වූ ව රේ උකස් මසුරා පලක් කැ නී

## සු ග තෝ ප දේ ස ය.

භූවාභ්‍යන්තරයෙහි සිටෙන්නාවූ නාග මානික්‍යයෙන් ප්‍රයෝජනයක් නැත්තේය. කටුවලින් ගැවසී වෘක්ෂයන්ගේ මල් නෙලිම නොහැකිවෙති. එමෙන් ලෝභියා සිටුවරයෙක්උනමුත් කිසි ප්‍රයෝජනයක් නැත්තේය.

66 ර වෙ නොපමණින් සතුරෝ සිටියා ව
ගියෙන් කිසි බියක් නැත නුවණැතියා ට
න වෙ දත් සිහක් වටකර තිබුනා ව
කු වේ කර නටනී දිව නොනැලිරී ව

ගුණවන්තයෝ සතුරෝ නොපමණ සිටිය නමුත් භය නැත්තේය, කෙසේද, දත් තිහක් නොයොත් තිස්දෙකක් ඇති මුඛාභ්‍යන්තරයෙහි දිව ඒඅත මේඅත පෙරළවා ක්‍රියාකරන්නාක්මෙනි.

67 සා ප ත් ගුණ නුවණ සුදනන්ගේ දකු ම
ලෝඇත් ඇම්සැපට වැඩියෙන් සැපකි එ ම
කි ම ත් කොයිලෙසින් තිරකරලා එසෙ ම
ඊ ව ත් වැඩි සැපකි දුදනන් නොදකී ම

සත්පුරුෂයන්ගේදකීම ලෝකයෙහි සියළු සැපටවඩා අධිකවූ සැපතකි. එසේදවුවත් දුර්ජනයන්ගේ දර්ශනය නොකිරීම ඊටත් වඩා අධිකවූ සැපතකි.

68 වැඩිය තපස වයසින් නුවණින් වැඩිය
වැඩිය යසස බලයෙන් මෙඇමින් වැඩිය
වැඩිය නුමුත් දනයෙන් වැඩිනන් වැඩිය
එ ඩිය ඔහුගෙ ලොවදන සලකනී වැඩිය

තපසින්ද වයසින්ද ගුණයෙන්ද කීර්තියෙන්ද ශක්තියෙන්ද යනමේ සියල්ලෙන් වැඩිවූයේ නමුත් වස්තුවෙන් වැඩිවූ නැනැත්තන්ගේ ආඩම්බරය ලෝකයා සලකති.

69 ලතා ග තී ය ලිය ගතියත් එකවා යේ
පුතා ග තී ය පිය ගතියත් සමවා යේ
සිතේග තී ය කාය බස පවතිය වේ යේ
කතෝකැනය වෙතී නොය සිත නැති දී යේ

70 ස්ත්‍රීහුගේසවභාව ලතාවගීවලට සමානවෙති, පුත්‍රයන්ගේ ගතිය පියවරුන්ට සමානවෙති, සිතේ සවභාව වචනයට හා ශරීරයෙහි වේගයට සමානවේ, හිතකැනතාවූ අයහා දීගයිය ස්ත්‍රීහු තින් දවට පැමිණෙති. එබඳු අය හා සමග දීගනොවිය යුතුයි,

71 කු ඩා රුකට පැටලුනිනම් නැබුලු ලිය
ව ඩා කල් නොගොස් ගනී වැලඳ මියි ලිය
කු ඩා කුලට ගිය උස්කුල බොළඳ ලිය
සා ඩා හෙළනී නමසතු පරපුර බ ලය

විශාල වැල් කුඩා වෘක්ෂයන්හි පැටළුණේ නම් ඒ වෘක්ෂය හා සමග කැඩී පොළොවට හෙළයෙයි පතිනාවන් නාස්සමින් උසස්කුලවල ස්ත්‍රීහු අඩුකුලවලට පැමිණියේ නම් ඒ උභය කුලයම බිඳහෙලා පිරිහෙලයි.

72 පැනි රස ත් තිත්තවෙති පිත් කෝප ශට
සොඳසල ත් නොසොඳවෙති සීත්කෝප ශට
බ ල ව ත ත් දුබලවෙති පත් රෝග ශට
ඇසඇත ත් දොෂයාස නොපෙනෙති රාග ශට

පිත් කෝපයට මධුර රසත් තිත්ත වෙයි, එමෙන් අමතාප සීත් ඇත්තන්ට හොඳක් සලත් නොසොඳවෙති, ශක්තිවගත යෝවුවන් රෝගාතුරවූයේ නම් දුබීලවෙති, ඇස්ඇත්තෝ නමුත් රාගාධිකයන්ට දෝස නොපෙනෙති.

73 රජෙජකුවන් කෙනෙස් සිටියත් හිම්වෙ න්ට
නොතක ලද කැමති ඊහුන් සහ ය න්ට
ඇඳක පිලි එලා දුනමුත් නිදියෙ න්ට
සුනක කැමතිවෙති ලිපලග ලැගෙ න්ට

රජෙජකුවන්නෙතෙස් සිම්වෙන්ට සිටියනමුත් ස්ත්‍රීහු නීචයන් හා එක්වීමට ප්‍රියවෙති, කෙසේද, පිලි අතුරණලද ඇඳක් නිදනත්ට දුන් නමුත් බල්ලෝ ලිපලග ලිබ්බාක්කේ ලැගීමට ප්‍රියවෙත්තාක් මෙනි.

74 දූත ල ග ත් විය ත් පඬි සබතුල විතු ම
කිසිසොඳත් අය ත් කාරණට යති නොවියා ම
ම ම ය ම ත් මිදු ත් කුඹු පැළමට යර ම
කෙසරසි ත් රඟ ත් කැනගිළ වැති පුදු ම

ශබ්ද ශාස්ත්‍ර උගත් ව්‍යක්ත පණ්ඩිත සභාවල හිඹී ශබ්ද ශාස්ත්‍ර යන් සොඳත් අය පණ්ඩිතයන් සමාන ක්‍රියාකාරත්වයාම කෙසේද පෙර සිංහවෙස් ගත්නාවූ සිවලාමෙනි.

75 ල ද ක ල බලය නැමු සිදුමැද දුවසි සැ බ
නැතික ල වැසිඅකුල සඳ බබලාය දු බ
පිරි තෙ ල තිබෙනතෙක් දිලිසෙයි පහන්ගැ බ
සොඳකල තිබෙනතුරැ සතසට වෙති ලා බ

යන්ත්‍රසූත්‍රාදි බලය ඇතිකල අමුද්‍රයෙහි නැවගමන්කරයි, වලාකුල් නැතිකල අහස්හි චන්ද්‍රයා මනාව බබලයි, තෙල් පිරී තිබෙන පහන දීප්තිමත්වෙයි, වාසනාවන්තයාකාලය තිබෙනතුරැ සත්වයාහට මහත්වූ ලාභ ලැබෙති.